272986

OL/2009/33-S-I

සියලු ම හිමිකම් ඇවිරිණි]
முழுப் பதிப்புரிமையுடையது]
All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

33 S I

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2009 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2009 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2009

ඉතිහාසය I
வரலாறு I
History I

පැය එකයි
ஒரு மணித்தியாலம்
One hour

සැලකිය යුතුයි :

(i) **සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න. මෙම පත්‍රය සඳහා ලකුණු 80 ක් හිමි වේ.**

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරන්න.

(iii) **පිළිතුරු ලකුණු කිරීම සඳහා ඔබට සැපයෙන පත්‍රිකාවේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම පත්‍රිකාවේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

1. ඉතිහාසය ඉගෙනීමෙන් ලබන දැනුම භාවිත කළ යුතු ආකාරය වඩාත් නිවැරදිව දක්වෙන ප්‍රකාශය මින් කවරක් ද?
   (1) අතීතය තුළින් වර්තමානය තේරුම් ගෙන අනාගතය ගොඩනගා ගැනීම සඳහා ය.
   (2) අතීතයේ කළ වැරදි නැවත සිදුනොවීමට වගබලා ගැනීම සඳහා ය.
   (3) අතීතයේ ලත් ජයග්‍රහණ තවදුරටත් පවත්වා ගැනීම සඳහා ය.
   (4) අතීත ශ්‍රී විභූතිය පිළිබඳ අභිමානයක් ඇති කර ගැනීම සඳහා ය.

2. ශ්‍රී ලංකාවේ, වසර දහස් ගණනක අඛණ්ඩ ඉතිහාසය හැදෑරීමේ මූලාශ්‍රයක් ලෙස මහාවංශයෙහි වැදගත්කම වඩාත් නිවැරදිව දක්වෙන ප්‍රකාශය කුමක් ද?
   (1) ලිඛිත මූලාශ්‍රයක් ලෙස මහාවංශයේ එන සියලු තොරතුරු නිවැරදි සේ සැලකිය හැකි ය.
   (2) පැරණි රජවරුන් පිළිබඳව සඳහන් තොරතුරු පමණක් නිවැරදිව දක්වෙන මූලාශ්‍ර ග්‍රන්ථයක් ලෙස මහාවංශය වැදගත් වේ.
   (3) මහාවංශයේ එන බොහෝ තොරතුරු අනෙකුත් මූලාශ්‍රයවලින් තහවුරුවන හෙයින් ලිඛිත ඓතිහාසික මූලාශ්‍ර ග්‍රන්ථයක් ලෙස වැදගත් වේ.
   (4) 'මහානාම' නම් තෙරුන්වහන්සේ නමක විසින් රචිත හෙයින් ආගමික ඉතිහාසය පිළිබඳ තොරතුරු පමණක් නිවැරදිව දක්වෙන මූලාශ්‍රයක් ලෙස වැදගත් වේ.

3. *A* - දැනට හඳුනාගෙන ඇති පැරණිම වැව කරවීම
   *B* - මහවිලච්චිය, මානාකැටි ප්‍රමුඛ මහවැව් තැනවීම
   *C* - වාරි තාක්ෂණයේ විශිෂ්ට නිර්මාණයක් ලෙස සැලකෙන 'ජයගඟ' තැනවීම
   *D* - වැව් කිහිපයක් ඒකාබද්ධ කොට විශාල වැවක් තැනවීම
   ඉහත *A*,*B*,*C* හා *D*වල සඳහන් කාර්යයන් සඳහා මුල්වූ රජවරුන්ගේ නම් අනුපිළිවෙළින් දක්වන්න.
   (1) දේවානම්පිය තිස්ස, මහසෙන්, පණ්ඩුකාභය, ධාතුසේන
   (2) පණ්ඩුකාභය, පළමුවන අග්බෝ, වසභ, මහා පරාක්‍රමබාහු
   (3) පණ්ඩුකාභය, වසභ, ධාතුසේන, මහා පරාක්‍රමබාහු
   (4) වසභ, පණ්ඩුකාභය, පළමුවන අග්බෝ, ධාතුසේන

4. දුටුගැමුණු කුමාරයාට රට සතුරන්ගෙන් මුදා ගැනීමේ කාර්යය සාර්ථක කර ගැනීමට අවශ්‍ය පසුබිම සැකසීමෙහි ලා සැලසුම් සහගතව හා දූරදර්ශීව කටයුතු කරමින් වැඩි මෙහෙයක් ඉටු කරන ලද්දේ
   (1) සහෝදරයා වූ සද්ධාතිස්ස කුමරුන් විසිනි.
   (2) දස මහා යෝධයන් ඇතුළු හමුදා නායකයන් විසිනි.
   (3) අවවාද අනුශාසනා ලබාදුන් භික්ෂූන් වහන්සේලා විසිනි.
   (4) පියා වූ කාවන්තිස්ස රජතුමා විසිනි.

5. ලම්බකර්ණ පෙළපතේ ආරම්භක පාලකයා වූයේ පහත සඳහන් කවරෙක් ද?
   (1) වසභ රජතුමා (2) මහසෙන් රජතුමා (3) වළගම්බා රජතුමා (4) මිත්සෙන් රජතුමා

6. දඹදෙණියේ රජකළ දෙවන පරාක්‍රමබාහු රජු විසින් ඉටු කරන ලද වැදගත් ම කාර්යය ලෙස සැලකිය හැක්කේ
   (1) භික්ෂූන්වහන්සේලාගේ විනය නීති පිළිබඳව වූ දඹදෙණි කතිකාවත සම්පාදනය කරවීමයි.
   (2) 'මාඝ' ගේ දුෂ්ට පාලනයෙන් රට නිදහස්කර දේශපාලන ස්ථාවර බවක් ඇති කිරීමයි.
   (3) 'කව්සිළුමිණ' හා 'විශුද්ධිමාර්ග සන්නය' වැනි ග්‍රන්ථ රචනා කිරීමයි.
   (4) 'බෙලිගල' තිබූ දන්තධාතූන් වහන්සේ දඹදෙණියට වැඩම කරවා දළදා මාළිගයක් තනා එහි තැන්පත් කරවීමයි.

[ දෙවැනි පිටුව බලන්න.

Download Past Papers & Answers at : www.freebooks.lk

7. පැරණි වාරි තාක්ෂණයේ විශිෂ්ටතම අංගයක් ලෙස සැලකෙන 'බිසෝකොටුව' මගින් ඉටුවූ ප්‍රධානම කාර්යය වූයේ
   (1) වැව් බැම්ම හරහා සොරොව්වට ඇතිවන ජලපීඩනය සමනය කිරීමයි.
   (2) වැවෙහි අතිරික්ත ජලය පිටකිරීමයි.
   (3) වැවෙහි රළ පහරින් වැව් බැම්ම සේදීයාම වැළැක්වීමයි.
   (4) වැවෙහි එක්වන රොන්මඩ ඇළවල්වලට ගලායාම වැළැක්වීමයි.

8. වැව් බැම්මට සම්බන්ධ කිරීමට තරම් උස් කඳුගැට නොමැති, එහෙත් වී වගාවට ඉතා සුදුසු ප්‍රදේශවල උසින් අඩු චාපාකාර හැඩයකින් යුත් වැව් බැම් ඉදිකොට වැව් තැනීමට පවා පැරණි වාරි ශිල්පීහු සමත්වූහ. එසේ ඉදිකළ වැවකට දැක්විය හැකි හොඳම නිදසුන වන්නේ
   (1) ත්‍රිකුණාමල දිස්ත්‍රික්කයේ පිහිටි කන්තලේ වැවයි.
   (2) පොළොන්නරු දිස්ත්‍රික්කයේ පිහිටි ගිරිතලේ වැවයි.
   (3) අනුරාධපුර දිස්ත්‍රික්කයේ පිහිටි නාච්චදූව වැවයි.
   (4) මන්නාරම දිස්ත්‍රික්කයේ පිහිටි යෝධ වැවයි.

9. යාපනේ ආර්යචක්‍රවර්ති විසින් සිය පාලනයට ගෙන තිබූ මන්නාරම සිට පානදුරේ දක්වා වූ බටහිර වෙරළේ පිහිටි තොටුපළවල් සියල්ල එයින් නිදහස්කර ගැනීමේ ගෞරවය හිමිවන්නේ
   (1) සේනාලංකාධිකාර සෙනෙවිරදුන්ට ය.
   (2) නිශ්ශංක අලගක්කෝනාරට ය.
   (3) අම්බුලුගල කුමාරයාට ය.
   (4) සපුමල් කුමාරයාට ය.

10. පහත $X$ තීරුවෙහි කෝට්ටේ යුගයට අයත් සාහිත්‍ය ගත් කතුවරුන් කිහිපදෙනකුගේ නම් ද $Y$ තීරුවෙහි ඔවුන් විසින් රචනා කරන ලද සාහිත්‍ය කෘති කිහිපයක නම් ද දක්වේ.

| $X$ | $Y$ |
|---|---|
| 1. තොටගමුවේ ශ්‍රී රාහුල හිමි | *A* ගුත්තිල කාව්‍යය |
| 2. විදගම මෛත්‍රිය හිමි | *B* සැළලිහිණි සංදේශය |
| 3. වෑත්තෑවේ හිමි | *C* කෝකිල සංදේශය |
| 4. ඉරුගල් කුලතිලක හිමි | *D* බුදුගුණ අලංකාරය |

$X$ තීරුවේ දක්වෙන අනුපිළිවෙළට $Y$ තීරුව ගැළපූ විට නිවැරදි පිළිතුර පහත සඳහන් ඒවායින් කුමක් ද?
   (1) *B, A, D, C*  (2) *B, D, C, A*  (3) *C, B, D, A*  (4) *B, D, A, C*

11. මුල්ලේරියාවේ සටනින් පෘතුගීසීන් අන්ත පරාජයකට පත්කිරීමට සීතාවක රජවරුන් සමත්වූව ද, ඔවුන් ලංකාවෙන් පන්නා දැමීමට නොහැකි වූ ප්‍රධාන සාධකය වූයේ
   (1) සිංහල රජවරුන්ට ප්‍රබල නාවුක බලයක් නොතිබීම ය.
   (2) පුහුණු කරන ලද ප්‍රමාණවත් හමුදවක් සිංහල රජවරුන්ට නොසිටීම ය.
   (3) සිංහල හමුදා සේනාපතිවරුන් අතර පැවති අසමගිකම ය.
   (4) උඩරට පාලකයන්ගෙන් සහායක් නොලැබීම ය.

12. ලංකාවේදී ලන්දේසීන් අනුගමනය කළ පාලනය සම්බන්ධ නිවැරදි ප්‍රකාශය කවරක් ද?
   (1) ලන්දේසීහු උඩරට රාජ්‍යය සමග හැකි සෑම විටම සාමකාමීව කටයුතු කළහ.
   (2) ලන්දේසීහු උඩරටට එරෙහිව දැඩි ආක්‍රමණකාරී පිළිවෙතක් අනුගමනය කළහ.
   (3) ලන්දේසීහු ලංකාවේ පැවති සාම්ප්‍රදායික ආර්ථක්‍රමය මුළුමනින්ම වෙනස් කළහ.
   (4) ලන්දේසීහු ලංකාවේ මුහුදුබඩ පළාත්වල පැවති සිංහල පරිපාලන ව්‍යුහය මුළුමනින්ම වෙනස් කළහ.

13. ග්‍රාමීය සුභ සාධනයට පුරෝගාමී මෙහෙයක් ඉටුකළ 'ගම් සභාව' අක්‍රියවීම සිදුවූයේ කවර ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් යටතේ ද?
   (1) ඩොනමෝර්  (2) මැකලම්  (3) කෝල්බෲක් - කැමරන්  (4) මැනිං - ඩෙවොන්ෂයර්

14. *A* - දේශීය මුලාදැනීන් වෙනුවට බදු එකතු කිරීම සඳහා 'අවුම්ල්දර්වරුන්' පත්කිරීම
   *B* - කුරුඳු සඳහා අය කළ තීරු බද්ද වැඩි කිරීම
   *C* - මුදලින් බදු ගෙවීමේ ක්‍රමයක් ආරම්භ කිරීම
   *D* - අධිකරණ කටයුතුවලදී ලියකියවිලිවලට අයකරන මුද්දර ගාස්තු වැඩි කිරීම
   ඉහත දක්වෙන කරුණු අතුරෙන් බ්‍රිතාන්‍ය පෙරදිග ඉන්දියා වෙළෙඳ සමාගම වැඩි ආදායමක් ලබා ගැනීම සඳහා ලංකාවේදී අනුගමනය කළ ක්‍රියාමාර්ග දෙකක් වන්නේ
   (1) *A* හා *C* ය.  (2) *A* හා *D* ය.  (3) *B* හා *C* ය.  (4) *B* හා *D* ය.

15. *A* - රාජ්‍ය මන්ත්‍රණ සභාව පිහිටුවීම
   *B* - විධායක කාරක සභා ක්‍රමය ඇරඹීම
   *C* - ජනවාර්ගික නියෝජන ක්‍රමය අහෝසි කිරීම
   ඉහත සඳහන් යෝජනා ක්‍රියාත්මක වූයේ කවර ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය යටතේ ද?
   (1) කෝල්බෲක් - කැමරන්
   (2) කෘෘව - මැකලම්
   (3) මැනිං - ඩෙවොන්ෂයර්
   (4) ඩොනමෝර්

[ තුන්වැනි පිටුව බලන්න.

Download Past Papers & Answers at : www.freebooks.lk

16. බ්‍රිතාන්‍ය පාලන සමයේදී ලංකාවේ සමාජ ආර්ථික රටාවේ වෙනස්කම් ඇති කිරීමට මුල්වූ ආණ්ඩුකාරවරුන් කිහිපදෙනකුගේ නම් $X$ තීරුවේ ද ඔවුන් විසින් ගන්නා ලද ක්‍රියාමාර්ග කිහිපයක් $Y$ තීරුවේ ද දක්වේ.

| X | Y |
|---|---|
| 1. එඩ්වර්ඩ් බාන්ස් | A දුම්රිය මාර්ග ඉදිකිරීම |
| 2. හෙන්රි වෝඩ් | B වාරිමාර්ග දෙපාර්තමේන්තුව පිහිටුවීම |
| 3. වෙස්ට් රිජ්වේ | C රාජකාරි ක්‍රමය අවලංගු කිරීම |
| | D මහාමාර්ග ඉදිකිරීම |

$X$ තීරුවේ අනුපිළිවෙලට අනුව $Y$ තීරුවේ ඇති ක්‍රියාමාර්ග ගැළපූවිට දක්වෙන නිවැරදි පිළිතුර කුමක් ද?
(1) A, C, B (2) B, C, D (3) D, C, A (4) D, A, B

17. ලංකාවේ උතුරු ප්‍රදේශයේ ඉතාමත් සංවිධානාත්මක මිෂනාරි අධ්‍යාපන ක්‍රමයක් ගොඩනගන ලද්දේ පහත සඳහන් කවර මිෂනාරි සමාගම විසින් ද?
(1) ලන්ඩන් මිෂනාරි සමාගම (2) වෙස්ලියන් - මෙතෝදිස්ත මිෂනාරි සමාගම
(3) ඇමරිකන් මිෂනාරි සමාගම (4) බැප්ටිස්ට් මිෂනාරි සමාගම

18. වර්ෂ 1898 දී තරුණ බෞද්ධ සංගමය පිහිටුවීමෙහි ලා පුරෝගාමී වූ පුද්ගලයා වන්නේ
(1) අනගාරික ධර්මපාල තුමා ය. (2) බ්‍රහ්මචාරී වලිසිංහ හරිස්චන්ද්‍ර මැතිතුමා ය.
(3) සර් ඩී.බී. ජයතිලක මැතිතුමා ය. (4) පියදස සිරිසේන මැතිතුමා ය.

19. වර්ෂ 1947 දී පැවැත්වූ මහ මැතිවරණයේ සිටම ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක වන දේශපාලන පක්ෂ ක්‍රමයේ ඉතිහාසය දෙස බලනවිට එහි වැදගත් ලක්ෂණ දෙකක් ලෙස දක්විය හැක්කේ පහත සඳහන් ඒවායින් කවරක් ද?
A - සියලුම පක්ෂ ජනවාර්ගික පදනමක් මත ගොඩනැගුණු ඒවා වීම
B - බොහොමයක් පක්ෂවලට ආණ්ඩු බලයක් ලබාගත නොහැකි වීම
C - දේශපාලන පක්ෂවලින් වැඩි ගණනක් වාමාංශික පක්ෂ වීම
D - ආණ්ඩු බලය ලබා ගැනීම සඳහා බොහෝවිට පක්ෂ කිහිපයක් එක්ව මැතිවරණවලට ඉදිරිපත් වීම
(1) B සහ D (2) A සහ B (3) B සහ C (4) C සහ D

20. අධ්‍යාපන කටයුතුවල දියුණුව උදෙසා සී.ඩබ්.ඩබ්. කන්නන්ගර මැතිතුමා විසින් ඉදිරිපත් කරන ලද යෝජනාවක් **නොවන්නේ**
(1) බාලාංශයේ සිට විශ්වවිද්‍යාලය දක්වා නොමිලයේ අධ්‍යාපනය ලබා දීම ය.
(2) අධ්‍යාපන පරිපාලන කටයුතු සඳහා ප්‍රසිද්ධ ඉගැන්වීම් දෙපාර්තමේන්තුවක් පිහිටුවීම ය.
(3) පාසල් සිසුන් සඳහා දිවා ආහාර වැඩ පිළිවෙලක් ක්‍රියාත්මක කිරීම ය.
(4) පාසල් විෂයමාලාව තුළ ආගම අනිවාර්ය විෂයයක් බවට පත්කිරීම ය.

21. දේශීය ජල තීරයේ හා ගුවනේ සිදු කළ වැරදි සම්බන්ධ නඩු විසඳීමේ අධිකරණ බලය ඇත්තේ ශ්‍රී ලංකාවේ කිනම් අධිකරණයකට ද?
(1) ශ්‍රේෂ්ඨාධිකරණයට (2) මහාධිකරණයට (3) දිසා අධිකරණයට (4) මහේස්ත්‍රාත් අධිකරණයට

22. සිව්වන ධර්ම සංගායනාව පැවැත්වීමට අනුග්‍රහය දක්වූ රජතුමා කවරෙක් ද?
(1) කාලාශෝක (2) අජාසත්ත (3) කණිෂ්ක (4) ධර්මාශෝක

23. වයඹ දිග දේශසීමා ඔස්සේ ඉන්දියානු ප්‍රදේශවලට, ආක්‍රමණ හා සංක්‍රමණ බොහොමයක් සිදුවූ දුර්ග මාර්ගය වූයේ
(1) ඛයිබර් ය. (2) ගෝමල් ය. (3) බෝලාන් ය. (4) මක්රාන් ය.

24. මෞර්ය අශෝක අධිරාජයාගේ පාලන සංවිධානය තුළ 'ධර්ම මහාමාත්‍ර' නම් නිලධාරීන්ට පැවරුණු කාර්යය වූයේ
(1) ඉන්දියාව තුළ බුදු දහමේ උන්නතියට කටයුතු කිරීම ය.
(2) රජුට අර්ථයෙන් ධර්මයෙන් අනුශාසනා කිරීම ය.
(3) අශෝකගේ ධර්මය අධිරාජ්‍යය තුළ ක්‍රියාත්මක කිරීම ය.
(4) ඉන්දියාවෙන් පිටත ප්‍රදේශවල බුදුදහම ව්‍යාප්ත කිරීම ය.

25. ඉන්දියාවට පැමිණි මුල් මුස්ලිම් ආක්‍රමණිකයන් වැඩි දෙනකුගේ මූලික අරමුණ වූයේ
(1) වයඹ දිග හා උතුරු ඉන්දියාවේ රාජ්‍යවල ධනය කොල්ලකෑම ය.
(2) ඉන්දියාවේ වෙළෙඳ බලය අල්ලා ගැනීම ය.
(3) උතුරු ඉන්දියාවේ දේශපාලන ආධිපත්‍යය ලබා ගැනීම ය.
(4) වයඹ දිග හා උතුරු ඉන්දියාවේ ඉස්ලාම් ධර්මය ව්‍යාප්ත කිරීම ය.

26. සියවස් තුනක පමණ කාලයක් දකුණු ඉන්දියාවේ හින්දු සංස්කෘතිය මුස්ලිම් බලයට යටත්ව යා නොදී රැක ගැනීම සඳහා විශාල කාර්යභාරයක් ඉටු කරන ලද්දේ
(1) චෝලයන් විසිනි. (2) පාණ්ඩ්‍යයන් විසිනි. (3) පල්ලවයන් විසිනි. (4) විජයනගර් පාලකයන් විසිනි.

27. ස්වාභාවික කඳු ගැටයක් මුළුමනින්ම ආවරණය වන සේ නිර්මාණය කරන ලද විශාල බෞද්ධ විහාරයක් වන්නේ
(1) බාමියන් ය. (2) බෝරෝබුදූර් ය. (3) අංකෝර්වට් ය. (4) ෂ්වේදගොන් ය.

[ හතරවැනි පිටුව බලන්න.

Download Past Papers & Answers at : www.freebooks.lk

28. *A* - කලාව හා සාහිත්‍යය ලෞකික මුහුණුවරක් ගැනීම
*B* - මානවවාදී විෂයයන් වෙනුවට දේවධර්මය වැනි විෂයයන් ඉගෙනීමට උනන්දු වීම
*C* - පුද්ගලයා වැදගත් කොට සැලකීමට වඩා සාමූහික බව ඉස්මතු වීම
*D* - ග්‍රීක හා ලතින් භාෂා හැදෑරීම නිසා යුරෝපා භාෂා සාහිත්‍යයේ ප්‍රබෝධයක් හට ගැනීම
ඉහත *A* සිට *D* තෙක් ඇති කරුණු අතුරෙන් පුනරුද සමයේ විශේෂ ලක්ෂණ ලෙස සැලකිය හැකි කරුණු දෙකක් වන්නේ
(1) *A* සහ *B* ය. (2) *B* සහ *C* ය. (3) *A* සහ *D* ය. (4) *C* සහ *D* ය.

29. මධ්‍යතන යුගයේ යුරෝපා සමාජයේ පැවති වැඩවසම් ක්‍රමයේ දක්නට ලැබුණු ප්‍රධාන ලක්ෂණය වූයේ
(1) ප්‍රබල රාජාණ්ඩු ක්‍රමයක් පැවතීමයි. (2) පාලන ක්‍රමය කේන්ද්‍රගත වීමයි.
(3) දියුණු වෙළෙඳ රටාවක් ව්‍යාප්තව තිබීමයි. (4) ප්‍රවේණිදාස ක්‍රමයක් පැවතීමයි.

30. යුරෝපා ජාතීන් අතර වූ බල අරගලය නිසා ක්‍රි.ව. 1493 දී පාප්වහන්සේගේ තීරණයක් මත දේශගවේෂණ කටයුතු සඳහා ඒ ඒ ජාතීන්ට කලාප වෙන්කර දීම සිදු විය. ඒ අනුව ස්පාඤ්ඤ ජාතිකයන්ට වෙන්කර දෙන ලද්දේ වර්තමාන
(1) දකුණු හා උතුරු ඇමරිකානු ප්‍රදේශ ය. (2) පෙරදිග හා ඉන්දියානු සාගර ප්‍රදේශ ය.
(3) දකුණු යුරෝපයේ ප්‍රදේශ ය. (4) අප්‍රිකානු මහද්වීපයේ ප්‍රදේශ ය.

31. සිය පෙරදිග මූලස්ථානය ලෙස 'බතාවිය' තෝරාගත්තේ පහත සඳහන් කවර ජාතියක් විසින් ද?
(1) ස්පාඤ්ඤ (2) ඕලන්ද (3) පෘතුගීසි (4) ප්‍රංශ

32. එංගලන්තයේ 'ඉඩම් කොටු කිරීමේ ව්‍යාපාරය' මගින් සිදු වූයේ
(1) ධනවත් ඉඩම් හිමියන් දුප්පත් ගොවීන්ගේ ඉඩම් බලහත්කාරයෙන් කොටුකර ගැනීම ය.
(2) කුඩා ගොවි ඉඩම් එක්කර විශාල ප්‍රමාණයේ ගොවිබිම් සකස් කිරීම ය.
(3) වගාවන් ආරක්ෂා කර ගැනීම සඳහා ගොවිබිම්වල වැටකඩුලු ක්‍රමවත්ව සකස් කිරීම ය.
(4) සත්වපාලනය කෙරෙන තණබිම්වල සතුන්ගේ ආරක්ෂාව සඳහා ඉඩම් කොටුකර තැබීම ය.

33. 'ජෝසප් මැසිනි' විසින් නායකත්වය දරන ලද 'කාබොනාරි' ව්‍යාපාරය පහත දැක්වෙන කවර ඓතිහාසික සිද්ධියක් හා සම්බන්ධ වේද?
(1) ඉතාලිය එක්සේසත් කිරීම (2) ජර්මනිය එක්සේසත් කිරීම
(3) ප්‍රංශ මහා විප්ලවය (4) රුසියන් විප්ලවය

34. "චීනයේ සාර්ථක ලෙස විප්ලවය කරන්නේ ගොවි ජනතාව ය." යන ප්‍රකාශය කරන ලද්දේ කවරෙකු විසින් ද?
(1) සුන්-යත්-සෙන් (2) චියැං-කායි-ෂෙක් (3) චෞ-එන්-ලායි (4) මාඕ-සේ-තුං

35. චීනයේ ජාතික රජයක් ගොඩනගා ශක්තිමත්, බලවත් හා ආර්ථික වශයෙන් උසස් තත්ත්වයකට පත්කිරීමේ පදනම දමන ලද්දේ 'ක්වෝ-මිංටාන්' පක්ෂය විසිනි. එම පක්ෂයේ දේශපාලන දර්ශනය සකස් වූයේ පහත සඳහන් කවර නායකයකුගේ මතවාදයක් අනුව ද?
(1) යුවං-ෂි-කායි (2) චියැං-කායි-ෂෙක් (3) සුන්-යත්-සෙන් (4) මාඕ-සේතුං

36. කාර්මික විප්ලවය නිසා ඇතිවූ සමාජයීය ප්‍රතිඵලයක් වන්නේ මින් කවර කරුණ ද?
(1) නගරවල සංඛ්‍යාව මෙන්ම විශාලත්වය ද සීඝ්‍රයෙන් වැඩිවීම
(2) ආනයන හා අපනයන වෙළෙඳ රටාවක් බිහිවීම
(3) වෙළෙඳ අරමුණු ඉටුකර ගැනීමේ බද්ධ ව්‍යාපාර සමාගම් බිහිවීම
(4) මූල්‍ය සේවා හා බැංකු කටයුතුවල විශාල වර්ධනයක් ඇතිවීම

37. ආයුධ සන්නද්ධ ප්‍රචණ්ඩත්වය මූලික ලක්ෂණයක් ලෙස දක්නට ඇත්තේ කවර මතවාද දෙක සම්බන්ධයෙන් ද?
(1) පැසිස්ට්වාදය හා ලිබරල්වාදය (2) කොමියුනිස්ට්වාදය හා නාසිවාදය
(3) ලිබරල්වාදය හා කොමියුනිස්ට්වාදය (4) නාසිවාදය හා පැසිස්ට්වාදය

38. 'ගෙස්ටාපෝ' නම් රහස් පොලීසිය ක්‍රියාත්මක වූයේ පහත සඳහන් කවර නායකයකුගේ අවශ්‍යතාව මත ද?
(1) ඉතාලියේ බෙනිටෝ මුසෝලිනීගේ (2) රුසියාවේ ජෝසප් ස්ටාලින්ගේ
(3) ජපානයේ හිරෝහිතෝ අධිරාජයාගේ (4) ජර්මනියේ ඇඩොල්ෆ් හිට්ලර්ගේ

39. ඇමෙරිකා එක්සත් ජනපදය පළමුවන ලෝක මහා සංග්‍රාමයට සම්බන්ධ වීමට ආසන්නතම හේතුව වූයේ
(1) ජර්මන් නාවුක බලඇණිය තමන්ගේ නාවුක බලයටද තර්ජනයක් වේයැයි ඇමෙරිකා එක්සත් ජනපදය බියට පත්වීමයි.
(2) 'පර්ල්' වරායේ නවතා තිබූ ඇමරිකානු යුද නැව්වලට ජපානය විසින් පහර දී විනාශ කිරීමයි.
(3) ඇමෙරිකානු වැසියන් පිරිසක් ගමන් ගත් 'ලුසිටානියා' නැමැති බ්‍රිතාන්‍ය නෞකාව ජර්මානුවන් විසින් ගිල්වා දැමීමයි.
(4) තමන්ගේ යුරෝපීය වෙළෙඳපොල නැතිව යනු ඇතැයි ඇමෙරිකා එක්සත් ජනපදය බියට පත් වීමයි.

40. මාෂල් සැලැස්මෙහි නිර්මාතෘවරුන්ගේ මූලික අරමුණ වූයේ
(1) දෙවන ලෝක යුද්ධයෙන් පීඩාවට පත් වූ යුරෝපා රටවල සංවර්ධනය සඳහා ආධාර සැපයීමයි.
(2) යුරෝපයේ බටහිර හා නැගෙනහිර කඳවුරුවලට අයත් රටවල් අතර ගැටුම් නිරාකරණය කිරීමයි.
(3) ලෝක සාමය පවත්වා ගැනීම සඳහා අවශ්‍ය පසුබිම සකස් කිරීමයි.
(4) යුරෝපා රටවල වෙළෙඳපොල අත්පත් කර ගැනීමයි.

※※

Download Past Papers & Answers at : www.freebooks.lk

272987

OL/2009/33-S-II

සියලු ම හිමිකම් ඇවිරිණි]
முழுப் பதிப்புரிமையுடையது]
All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

33 | S | II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2009 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2009 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2009

ඉතිහාසය II
வரலாறு II
History II

පැය තුනයි
மூன்று மணித்தியாலங்கள்
Three hours

※ I කොටසේ පළමුවන ප්‍රශ්නය අනිවාර්ය වේ.
※ II කොටසින් ප්‍රශ්න තුනකට ද, III කොටසින් ප්‍රශ්න දෙකකට ද පිළිතුරු සපයන්න.
※ පිළිතුරු සැපයිය යුතු මුළු ප්‍රශ්න සංඛ්‍යාව හයකි.

## I කොටස

1. 'අ'

පහත (i) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන **සියල්ල ම** සපයා ඇති ශ්‍රී ලංකා සිතියමෙහි ද, (ii) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන **සියල්ල ම** සපයා ඇති ලෝක සිතියම් කොටසෙහි ද ලකුණු කර නම් කරන්න.

(i) කලාවැව, මිහිජේ අමුණ, වනවාහිණී නදිය (වනනදී), මාතලේ අලු විහාරය, පුලත්ථිනගර, ගුත්තහාලක, ශ්‍රී ජයවර්ධනපුර කෝට්ටේ, ගහසිරිපුර, සීගිරිය, සෝකඩගල *(ලකුණු 10 යි)*

(ii) වින්ධ්‍යා කඳු, තාම්‍රලිප්ති වරාය, ගංගානම් ගඟ, බුරුමය (රාමඤ්ඤ දේශය), බෝරෝබුදුර්, පර්සියන් බොක්ක, වැනිසිය, හිරෝෂිමා *(ලකුණු 08 යි)*

'ආ'

(i) පහත $A, B, C, D$ යටතේ දක්වා ඇති ඓතිහාසික තොරතුරු හා සම්බන්ධ පුද්ගලයින් කවුරුන් ද'යි අනුපිළිවෙළින් ඔබේ පිළිතුරු පත්‍රයේ ලියා දක්වන්න.

*A*- අශෝක අධිරාජයාගේ මෙහෙයවීමෙන් ඉන්දියානු සම්ප්‍රදායට අනුව අභිෂේකයක් පැවැත්වූ පළමු ශ්‍රී ලාංකික රජතුමා

*B*- දෙවන ලෝක මහා සංග්‍රාමයෙන් පරාජයට පත්වූ ජපානයට සමාවදීම සඳහා සැන්ෆ්‍රැන්සිස්කෝ සම්මේලනයේදී සෙසු ජාතීන් කැමති කරවා ගැනීමට සමත් වූ ශ්‍රී ලාංකික නියෝජිතයා

*C*- ශ්‍රී ලංකාව ගැනද සඳහන් කොට ග්‍රන්ථයක් රචනා කළ චන්ද්‍රගුප්ත මෞර්ය රජුගේ රාජසභාවේ සිටි ග්‍රීක තානාපතිවරයා

*D*- දුරදක්නය නිපදවා පෘථිවියට සමීප ආකාශ වස්තු නිරීක්ෂණය කිරීමට අවස්ථාව සැලසූ ඉතාලි ජාතික විද්‍යාඥයා *(ලකුණු 04 යි)*

(ii) පහත $A, B, C, D$ යටතේ දක්වා ඇති නිර්මාණවලට බලපා ඇති කලා හා වාස්තු විද්‍යාත්මක සම්ප්‍රදායන් මොනවාදැයි වරහන් තුළ දී ඇති ලැයිස්තුව ඇසුරින් නිවැරදිව තෝරා අනුපිළිවෙළින් ලියන්න.


*A*


*B*


*C*


*D*

(චෝල, රෝම, ගුප්ත, පල්ලව, මෝගල්, මෞර්ය, ගන්ධාර) *(ලකුණු 04 යි)*

(iii) පහත $A, B, C, D$ යටතේ ඉදිරිපත් කොට ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

*A*- තමන් විපතකට පත්ව සිටින අවධියේ දී උපකාර කළ භික්ෂූන්වහන්සේ නමකට වළගම්බා රජු විසින් පූජා කරන ලද විහාර ආරාමය කුමක් ද?

*B*- ක්‍රි. ව. 5 වැනි සියවසේදී ලංකාවේ ඉදිකරන ලද මෙම උද්‍යානය ස්වාභාවික පරිසරය එලෙසම රැකෙන පරිදි සැලසුම් කර තිබීම විශේෂ ලක්ෂණයකි. එය පිහිටා ඇත්තේ කොහේ ද?

*C*- නැගෙනහිර රෝම අධිරාජ්‍යයේ අගනුවර ලෙස පැවති, වර්ෂ 1453 දී ඔටෝමන් තුර්කීන් විසින් අල්ලා ගනු ලැබූ නගරය කුමක් ද?

*D*- දෙවන ලෝක මහා සංග්‍රාමය අවසන් වූයේ ජපානය මිත්‍ර පක්ෂයට යටත්වීම නිසා ය. එහි දී ජපානය වෙනුවෙන් යටත්වීමේ ලියවිල්ලට අත්සන් තැබුවේ කවරෙක් ද? *(ලකුණු 04 යි)*

[ දෙවැනි පිටුව බලන්න.

Download Past Papers & Answers at : www.freebooks.lk

## II කොටස

**2.** (i) ලංකාවේ ප්‍රාග් ඓතිහාසික මානවයා විසූ ලෙන් **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) මුල් ජනපදිකයන් ලංකාවේ ජනාවාස පිහිටුවා ගැනීම සඳහා තෝරාගත් ගංගා නිම්න **හතරක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)

(iii) ලංකාවේ සංස්කෘතික නවෝදයක් ඇති කිරීමෙහිලා දේවානම්පිය තිස්ස රාජ්‍ය සමය වැදගත් වූ ආකාරය නිදසුන් **දෙකක්** දක්වමින් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) ජලාශ්‍රිත ශිෂ්ටාචාර සමයේ දී ලංකාවේ දියුණු වාරි තාක්ෂණයක් පැවති බව නිදසුන් **තුනක්** දක්වමින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

**3.** වසර 1500 ක පමණ කාලයක් අගනුවරව පැවති අනුරාධපුරය ක්‍රි. ව. 1017 දී යටත්කළ චෝලයෝ පොළොන්නරුව තම පාලන මධ්‍යස්ථානය බවට පත්කර ගත්හ. චෝල පාලනයෙන් රට මුදාගත් පළමුවන විජයබාහු රජතුමා හා ඉන් පසුව පැමිණි බලවත් පාලකයන් පොළොන්නරුවේ රාජධානියක් ගොඩ නැගුවද ක්‍රි. ව. 1215 මාඝ ආක්‍රමණය නිසා එයද බිඳ වැටිණි.

(i) *A* - අනුරාධපුරයේ රජකළ අවසාන රජතුමා

*B* - ක්‍රි.ව. 1017 දී රජරට ආක්‍රමණය කළ සොළී රජතුමා

*C* - පොළොන්නරුව නගරයට සොළීන් භාවිත කළ නම

අනුපිළිවෙළින් ලියා දක්වන්න. (ලකුණු 03 යි)

(ii) (a) පළමුවන විජයබාහු රජු පිළිබඳ තොරතුරු සඳහන්වන මූලාශ්‍රය **දෙකක්** ද,

(b) පළමුවන පරාක්‍රමබාහු රජතුමා පිළිබඳ තොරතුරු සඳහන් වන මූලාශ්‍රය **දෙකක්** ද පහත ලැයිස්තුවෙන් තෝරා අනුපිළිවෙළින් දක්වන්න.

(බදුලු ටැම්ලිපිය / පනාකඩුව තඹ සන්නස / දෙවනගල සෙල්ලිපිය / ගල්පොත සෙල්ලිපිය / අඹගමු සෙල්ලිපිය / සංගමු විහාර සෙල්ලිපිය) (ලකුණු 04 යි)

(iii) රාජ්‍ය උරුමය තහවුරු කරගැනීම හා වැසියන් අතර ජනප්‍රිය වීම සඳහා කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල රජතුමා අනුගමනය කළ ක්‍රියාමාර්ග **දෙකක්** විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) 'මාඝ' ආක්‍රමණය පොළොන්නරු රාජධානිය බිඳ වැටීමට බලපෑ ආකාරය කරුණු **තුනක්** ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

**4.** (i) පහත සඳහන් ඓතිහාසික සිදුවීම් හා සම්බන්ධ රජවරුන් අනුපිළිවෙළින් නම් කරන්න.

*A* - දඹදෙණියේ දළදා මාළිගයක් ඉදි කොට දළදා වහන්සේ තැන්පත් කරවීම

*B* - යාපහුව රාජධානියක් ලෙස ප්‍රථමයෙන්ම තෝරා ගැනීම

*C* - වෙළෙඳ ආරවුලක් මුල්කරගෙන ඉන්දියාවේ අදිවීරරාම පට්ටන ආක්‍රමණය කිරීම (ලකුණු 03 යි)

(ii) පොළොන්නරුව බිඳවැටීමෙන් පසු රාජධානි අගනුවරවල් තෝරා ගැනීමේදී රජවරුන් සැලකිල්ලට ගත් සාධක **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)

(iii) කුරුණෑගල සිව්වන පරාක්‍රමබාහු රජතුමාගේ ආගමික හා ශාස්ත්‍රීය සේවා **තුනක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) දඹදෙණි රාජධානි සමයේ සිට කෝට්ටේ රාජධානි සමය තෙක් කාලපරිච්ඡේදය තුළ ලාංකික ජනජීවිතයේ දක්නට ලැබුණු ලක්ෂණ **තුනක්** ලුහුඩින් විස්තර කරන්න. (ලකුණු 06 යි)

**5.** (i) 'විජයබා කොල්ලයෙන්' පසු කෝට්ටේ රාජ්‍යය කොටස් තුනකට බෙදී ගියේය. ඒවා නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) පහත සඳහන් ඓතිහාසික සිදුවීම් හා සම්බන්ධ පුද්ගලයින් අනුපිළිවෙළින් නම් කරන්න.

*A* - මුල්ලේරියා සටනේදී පෘතුගීසීන් පරාජයට පත්කිරීම

*B* - දෝන කතිරිනා නමින් බෞතිස්ම ලැබීම

*C* - ක්‍රි.ව. 1602 දී ලංකාවට පැමිණි මුල්ම ලන්දේසි ජාතිකයා

*D* - ක්‍රි.ව. 1638 දී ලන්දේසීන් සමඟ ගිවිසුමක් ඇතිකර ගැනීම. (ලකුණු 04 යි)

(iii) පළමුවන විමලධර්මසූරිය රජුගේ ආගමික හා දේශපාලන සේවා නිදසුන් **එක** බැගින් දක්වමින් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) ලන්දේසීන් ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවලින් ආර්ථික ප්‍රයෝජන ගැනීම සඳහා අනුගමනය කළ ක්‍රියාමාර්ග **තුනක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

[ තුන්වැනි පිටුව බලන්න.

Download Past Papers & Answers at : www.freebooks.lk

6. (i) පහත සඳහන් සිදුවීම් හා සම්බන්ධ පුද්ගලයින් තිදෙනා *A*, *B*, *C* අනුපිළිවෙළින් දක්වන්න.

*A* - ක්‍රි.ව. 1803 දී ෆ්‍රෙඩ්රික් නෝර්ත් ආණ්ඩුකාරවරයා උඩරටට විරුද්ධව මෙහෙයවූ ආක්‍රමණය සිදුවූ අවධියේ උඩරට පාලනය කළ රජතුමා

*B* - ඓතිහාසික උඩරට ගිවිසුම අත්සන් කිරීමට පෙර බ්‍රිතාන්‍ය ජාතික කොඩිය එසවීමට විරුද්ධත්වය පළකොට යළි සිංහ කොඩිය එසවීමට ක්‍රියා කළ භික්ෂූන් වහන්සේ

*C* - ක්‍රි.ව. 1815 උඩරට ගිවිසුමට බ්‍රිතාන්‍ය පාර්ශ්වය වෙනුවෙන් අත්සන් කළ ප්‍රධාන පුද්ගලයා (ලකුණු 03 යි)

(ii) බ්‍රිතාන්‍යයන් ලංකාව අල්ලා ගැනීමට උනන්දුවක් දැක්වීමට බලපෑ හේතු **දෙකක්** දක්වන්න. (ලකුණු 04 යි)

(iii) ක්‍රි.ව. 1818 දී බ්‍රිතාන්‍ය පාලනයෙන් රට නිදහස් කරගැනීමේ අරගලයක් හටගත්තේ ඇයිදැයි සාධක **දෙකක්** ඇසුරෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) බ්‍රිතාන්‍ය පාලනය නිසා ශ්‍රී ලංකාවේ ප්‍රවාහන ක්ෂේත්‍රයේ ඇතිවූ වෙනස්කම් **තුනක්** නිදසුන් දක්වමින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

## III කොටස

7. ඉන්දියාවේ මුල් ආර්ය ජනාවාස හා ඒවායේ ව්‍යාප්තිය දැක්වෙන සිතියමක් යාබදව දක්වා ඇත.




(i) (a) ආර්යයන් ඉන්දියාවට පැමිණීම සඳහා භාවිත කළ, අංක ① න් දක්වා ඇති දුර්ග මාර්ගයෙහි නම කුමක් ද?

(b) කඩඉරිවලින් වටකොට අංක ② න් දක්වා ඇත්තේ ආර්යයන් මුලින්ම ඉන්දියාවේ පදිංචි වූ ප්‍රදේශයකි. එය හැඳින්වෙන නම කුමක් ද?

(c) අංක ③ න් දක්වා ඇත්තේ සොළොස් මහා ජනපදවලින් බොහොමයක් ව්‍යාප්තව තිබූ ප්‍රධාන ගංගා නිම්නයයි. එම ගංගාවේ නම කුමක් ද? (ලකුණු 03 යි)

(ii) ඉන්දියාවට පැමිණි ආර්යයන් ජනාවාස පිහිටුවා ගැනීමේ දී සැලකිල්ලට ගත් සාධක **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 04 යි)

(iii) (a) සිතියමෙහි *A*, *B*, *C* හා *D* අතරින් මගධයේ අගනුවර පිහිටීම දක්වෙන්නේ කිනම් අක්ෂරයෙන් ද?

(b) මගධය මුල්කරගෙන බිහිවූ මෞර්ය අධිරාජ්‍යයේ පාලන සංවිධානයෙහි කැපීපෙනෙන ලක්ෂණ **දෙකක්** විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) ගුප්ත යුගයේ පැවති පාලන සංවිධානයේ ස්වභාවය එහි ලක්ෂණ **තුනක්** ඇසුරෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

8. නවවන සියවස වන විට යුරෝපයට එල්ල වූ ආක්‍රමණ ගණනාවක් නිසා දේශපාලන අස්ථාවර බවක් ඇති විය. දුර්වල රජවරු මේ ආක්‍රමණ මර්දනය කිරීම සඳහා ඔවුන්ගේ ප්‍රාදේශීය පාලක වංශාධිපතීන්ගේ පිහිට පැතූ අතර ඒ සඳහා ඔවුන්ට විශාල ලෙස ඉඩම්, බලතල හා වරප්‍රසාද ලබා දුන්හ. සාමාන්‍ය ජනයා වංශාධිපතීන්ගේ ඉඩම්වල වැඩකරන ගැත්තන් බවට පත්ව දුක්ඛිත ජීවිත ගත කළ අතර ඔවුන්ගේ ආරක්ෂාව වංශාධිපතීන් සතු වගකීමක් විය. මෙනිසා රජු හා වැසියන් අතර සබඳතාව අඩු වී වංශාධිපතීන් හා වැසියන් අතර සබඳතා වැඩි වූ අතර එය යුරෝපයේ වැඩවසම් ක්‍රමයේ ආරම්භය ද විය.

(i) ඉහත දැක්වූ පරිදි යුරෝපයේ අස්ථාවරත්වයට හේතු වූ ආක්‍රමණ **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) වැඩවසම් ක්‍රමය තුළ වංශාධිපතිවරුන් සතුව විශාල බලයක් පැවති බවට සාධක **දෙකක්** දක්වන්න. (ලකුණු 04 යි)

(iii) වැඩවසම් ක්‍රමය තුළ ඉඩම් භුක්තිය සම්බන්ධයෙන් කැපී පෙනෙන ලක්ෂණ **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) "වැඩවසම් සමාජයේ වංශාධිපතීන්ගේ ගැත්තන් බවට පත්වූ සාමාන්‍ය ජනතාව ගත කළේ දුක්ඛිත ජීවිතයකි." කරුණු **තුනක්** ඇසුරින් මේ බව සනාථ කරන්න. (ලකුණු 06 යි)

[ හතරවැනි පිටුව බලන්න.

Download Past Papers & Answers at : www.freebooks.lk

9. (i) පහත *A, B, C* වලින් දක්වෙන්නේ ජපානයේ දියුණුවට මහත් සේවාවක් කළ නායකයන් තිදෙනෙකු පිළිබඳ ප්‍රකාශ තුනකි.

*A* - කියෝතෝ ප්‍රදේශය යටත් කොට එහි සිටි පාලකයා එළවා දමා ජපානය එක්සේසත් කර සාමය හා ස්ථාවර බව ඇති කිරීමට පදනම දැමූ මොහු 1583 දී යුද පිටියේදීම මරණයට පත් විය.

*B* - උසස් බුද්ධිය, නිවැරදි තීරණ ගැනීම වැනි ගුණාංගවලින් හෙබි මොහු ජපාන යුදහමුදාවේ පහළම මට්ටමේ සිට එහි පාලකයා දක්වා උසස් වූ එකම පුද්ගලයා විය.

*C* - ක්‍රි.ව. 1603 දී ජපානයේ පාලකයා බවට පත්විය. ජපානයට දිගු කලක් පැවතුණු ශක්තිමත් දේශපාලන පදනමක් ද දැමූ මොහු සිය පාලන මධ්‍යස්ථානය ලෙස "ඊඩෝ" නගරය තෝරා ගත්තේ ය.

එම නායකයින් තිදෙනාගේ නම් පහත සඳහන් ලැයිස්තුවෙන් තෝරා *A, B, C* අනුපිළිවෙළින් දක්වන්න.

(හිදෙයෝෂි, හිරෝහිතෝ, ටොකුගාවා ඉයාසු, නොබුනගා) *(ලකුණු 03 යි)*

(ii) ටොකුගාවා ෂෝගුන් අවධියේදී ජපානයේ කෘෂිකර්මාන්ත සංවර්ධනය සම්බන්ධයෙන් ගත් පියවර **දෙකක්** සඳහන් කරන්න. *(ලකුණු 04 යි)*

(iii) 'මෙයිජි' පාලනය යටතේ ක්‍රි.ව. 1889 දී ප්‍රකාශයට පත්කරන ලද නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අනුව

(a) 'ඩයට්' හෙවත් පාර්ලිමේන්තුව සතු බලතල **දෙකක්** ද

(b) අධිරාජයා සතුවූ බලතල **තුනක්** ද සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*

(iv) පළමුවන ලෝක සංග්‍රාමයට පෙර කාලපරිච්ඡේදය තුළ ජපානය නැගෙනහිර ආසියාවේ සිය බලය ව්‍යාප්ත කිරීමට ගත් ක්‍රියාමාර්ග **දෙකක්** පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

10. (i) *A* - ඉන්දියාවේ බ්‍රිතාන්‍ය පාලකයෝ අවි බලයෙන් පන්නා දැමිය යුතුය. යන අදහස අනුව කටයුතු කළ ඉන්දියානු ප්‍රගතිශීලී පිලට නායකත්වය ලබා දුන් පුද්ගලයා

*B* - ඉන්දියාවේ මුස්ලිම්වරුන්ට වෙනම රාජ්‍යයක් තිබිය යුතුය. යන අදහස දැරූ නිදහස් පාකිස්තානයේ පළමු නායකයා

*C* - නිදහස ලැබුණු අවධියේදී ඉන්දියාවේ සිටි බ්‍රිතාන්‍ය ප්‍රතිරාජයා

කවුරුන්දැයි *A, B, C* අනුපිළිවෙළින් දක්වන්න. *(ලකුණු 03 යි)*

(ii) දෙවන ලෝක මහා සංග්‍රාමයෙන් පසුව ලෝකය බෙදී ගිය

*A* - ධනවාදී පිල

*B* - සමාජවාදී පිල

තම ආරක්ෂාව සඳහා පිහිටුවාගත් සංවිධාන **දෙක** ද, එම පිල් දෙකෙහි නායකත්වය ගත් රටවල් **දෙක** ද අනුපිළිවෙළින් සඳහන් කරන්න. *(ලකුණු 04 යි)*

(iii) බල කඳවුරු දෙකට ගැති නොවී තුන්වන ලෝකයේ රටවල් එකතු වී පිහිටුවාගත් සංවිධානය නම් කොට එහි අරමුණු **දෙකක්** විස්තර කරන්න. *(ලකුණු 05 යි)*

(iv) සෝවියට් දේශය බිඳවැටීම නිසා ලෝක දේශපාලනයේ ඇතිවූ ප්‍රතිඵල **තුනක්** පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

❊❊❊

Download Past Papers & Answers at : www.freebooks.lk

272986

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

ඉතිහාසය II
வரலாறு II
History II

33

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2009 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2009 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2009

විභාග අංකය
சுட்டெண்
IndeX No. ..........................................



Download Past Papers & Answers at : www.freebooks.lk

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2009 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2009 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2009

යුරෝපය
කළු මුහුද
මධ්‍යධරණී මුහුද
කැස්පියන් මුහුද
රතු මුහුද
අප්‍රිකාව
ඉන්දියන් සාගරය



Download Past Papers & Answers at : www.freebooks.lk

